**8.** චෙකොස්ලොවැකියා අර්බුදයේ අවසානය තෙක් ලෝක සාමය ආරක්ෂා කිරීම සඳහා එක්සත් ජාතීන්ගේ සංවිධානය ක්‍රියාත්මක වූ අයුරු විවේචනාත්මකව විමසන්න. (ලකුණු 14 යි)

**9.** **එක්කෝ (A)** කොටසට **නැතහොත් (B)** කොටසට පමණක් පිළිතුරු සපයන්න.

**(A)** (i) චීන කොමියුනිස්ට් විප්ලවය ඇතිවීමට තුඩු දුන් දේශපාලන හා ආර්ථික පසුබිම විග්‍රහ කරන්න. (ලකුණු 08 යි)

(ii) එම විප්ලවයේ සාර්ථකත්වය කෙරෙහි මාඕ සේතුංගේ නායකත්වය කෙතෙක් දුරට හේතු වී දැයි විමසන්න. (ලකුණු 06 යි)

**(B)** පහත සඳහන් මාතෘකා අතුරෙන් ඕනෑම **දෙකක** ඓතිහාසික වැදගත්කම පිළිබඳව කෙටි සටහන් ලියන්න.

(i) අමෙරිකානු සිවිල් යුද්ධය

(ii) 1857 ඉන්දියාවේ ඇති වූ කැරැල්ල

(iii) බොල්ෂෙවික් විප්ලවය

(iv) තුෂ්ණී යුද්ධය (එක් කෙටි සටහනකට ලකුණු 07 බැගිනි.)

* * *

සියලු ම හිමිකම් ඇවිරිණි / முழுப் பதிப்புரிமையுடையது / All Rights Reserved]

ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව
இலங்கைப் பரீட்சைத் திணைக்களம்
Department of Examinations, Sri Lanka

අධ්‍යයන පොදු සහතික පත්‍ර (උසස් පෙළ) විභාගය, 2018 අගෝස්තු
கல்விப் பொதுத் தராதரப் பத்திர (உயர் தர)ப் பரீட்சை, 2018 ஓகஸ்ற்
General Certificate of Education (Adv. Level) Examination, August 2018

ඉතිහාසය II (I කොටස)
வரலாறு II (பகுதி I)
History II (Part I)

25-B S II

2018.08.23 / 0830 - 1140

පැය තුනයි
மூன்று மணித்தியாலம்
Three hours

අමතර කියවීම් කාලය - මිනිත්තු 10 යි
மேலதிக வாசிப்பு நேரம் - 10 நிமிடங்கள்
Additional Reading Time - 10 minutes

**අමතර කියවීම් කාලය ප්‍රශ්න පත්‍රය කියවා ප්‍රශ්න තෝරා ගැනීමටත් පිළිතුරු ලිවීමේදී ප්‍රමුඛත්වය දෙන ප්‍රශ්න සංවිධානය කර ගැනීමටත් යොදාගන්න.**

**යුරෝපා ඉතිහාසය - ඈත අතීතයේ සිට ක්‍රි.ව. 1989 දක්වා**

**විභාග අංකය:** ......................................

**උපදෙස්:**

* මෙම කොටසේ ප්‍රශ්න **40** ක් ඇත. **සියලු ම** ප්‍රශ්නවලට **මෙම ප්‍රශ්න පත්‍රයේ ම** පිළිතුරු සපයන්න.
* එක් එක් ප්‍රශ්නයට ප්‍රතිචාර **පහ** බැගින් දී ඇති නමුදු නිවැරදි පිළිතුර වන්නේ **එකක්** පමණි. එම නිවැරදි පිළිතුර තෝරා, දී ඇති **උපදෙස් පරිදි ලකුණු කරන්න.**
* මෙම කොටසට ලකුණු **40** ක් දෙනු ලැබේ.
* කොටස් **දෙකට ම** මුළු කාලය **පැය තුනකි.** පිළිතුරු ලියා අවසන් වූ පසු, **I කොටස, II කොටසේ** පිළිතුරු පත් සමඟ **අමුණා භාර දෙන්න.**

## I කොටස

● අංක **1** සිට **10** තෙක් එක් එක් ප්‍රශ්නය සඳහා නම් **පහ** බැගින් දී ඇත. ඒවා අතුරෙන් **එකක්** පමණක් කවර හෝ හේතුවක් නිසා අනෙක් නම් සමඟ **නොගැළපේ.** එම **නොගැළපෙන** නම කුමක් දැ'යි හඳුනාගෙන එහි **අංකය වරහන තුළ** ලියන්න.

**1.** (1) ටයිබර් (2) තේම්ස් (3) ටාගුස්
(4) විස්ටියුලා (5) කීල් (.........)

**2.** (1) තීබ්ස් (2) මෙගාර (3) මර්මරා
(4) කොරින්ත් (5) මිලේටස් (.........)

**3.** (1) ඇලෙක්සැන්ඩර් (2) ට්‍රාජන් (3) හේඩ්‍රියන්
(4) ඇන්ටොනිනස් පියුස් (5) මාර්කස් අවුරේලියස් (.........)

**4.** (1) හොරස් (2) ඔවිඩ් (3) ලිවි
(4) ටැසිටස් (5) ඇලරික් (.........)

**5.** (1) යුදෙව්වෝ (2) විසිගොත්වරු (3) ඔස්ට්‍රාගොත්වරු
(4) ඇන්ග්ලෝ-සැක්සන්වරු (5) වැන්ඩල්වරු (.........)

**6.** (1) බොලොඤ්ඤා (2) ලයිසියම් (3) පැරිස්
(4) ඔක්ස්ෆඩ් (5) කේම්බ්‍රිජ් (.........)

**7.** (1) නාවික හෙන්රි (2) ජොලියට් (3) ලා සලෙ
(4) මාර්ක්වෙටේ (5) හෙන්රි හඩ්සන් (.........)

**8.** (1) ජෝන් වයික්ලිෆ් (2) ජෝන් හස් (3) උල්රිච් ස්විංලි
(4) ජෝන් ටෙට්සල් (5) ජෝන් කැල්වින් (.........)

**9.** (1) චාල්ස් ටවුන්ෂෙන්ඩ් (2) ජෝර්ජ් වොෂිංටන් (3) ජෝන් ඇඩම්ස්
(4) තෝමස් ජෙෆර්සන් (5) ඇන්ඩෘ ජැක්සන් (.........)

[දෙවැනි පිටුව බලන්න.

**10.** (1) අරාබි ලීගය
(2) එක්සත් ජාතීන්ගේ සංවිධානය (UNO)
(3) පෙට්‍රෝලියම් නිර්යාත කරන රටවල සංවිධානය (OPEC)
(4) යුරෝපීය ආර්ථික ප්‍රජාව (EEC)
(5) මධ්‍යම ගිවිසුම් සංවිධානය (CENTO) (………)

● අංක **11** සිට **15** තෙක් ප්‍රශ්නවල **පද යුගල පහ** බැගින් දී ඇත. ඒවා අතුරෙන් එක යුගලයක පද එකිනෙකට **නොගැළපේ. එම නොගැළපෙන** යුගලය කුමක් දැ'යි හඳුනාගෙන, ඊට අදාළ **අංකය,** ඉදිරියේ ඇති **වරහන තුළ** ලියන්න.

**11.** (1) පෙලපොනීසියානු යුද්ධය - ඇතන්ස් සහ ස්පාර්ටා
(2) පියුනික් යුද්ධ - රෝමය සහ කාර්තේජය
(3) සියක් අවුරුදු යුද්ධය - එංගලන්තය සහ ප්‍රංශය
(4) හත් අවුරුදු යුද්ධය - එංගලන්තය සහ ප්‍රශියාව
(5) රෝස යුද්ධ - ලැන්කැස්ටර් හා යෝර්ක් (………)

**12.** (1) ප්ලේටෝ - ජනරජය (The Republic)
(2) ඇරිස්ටෝටල් - දේශපාලනය (Politics)
(3) ශාන්ත ඔගස්ටින් - දෙවියන්ගේ නගරය (The City of God)
(4) ශාන්ත තෝමස් ඇක්වයිනාස් - සුම්මා තියලොජිකා
(5) මාටින් ලූතර් - ක්‍රිස්තියානි ආගමේ ආයතන (Institutes of the Christian Religion) (………)

**13.** (1) හැප්ස්බර්ග් - එංගලන්තය
(2) ටියුඩර් - එංගලන්තය
(3) ස්ටුවර්ට් - එංගලන්තය
(4) හැනෝවර් - එංගලන්තය
(5) වින්ඩ්සර් - එංගලන්තය (………)

**14.** (1) ස්ටාර් චේම්බර් - හත්වන හෙන්රි
(2) අධර්ම මර්දනාධිකරණය - අටවන හෙන්රි
(3) අනභිභවනීය නාවික හමුදාව - දෙවන පිලිප්
(4) ලෙත්‍රෙ ද කැචේ (විභාගයකින් තොරව යමෙකු බන්ධනාගාරගත කිරීමේ ආඥාව) - දහතුන්වන ලුවී
(5) මහාද්වීපික ක්‍රමය - නැපෝලියන් බොනපාර්ට් (………)

**15.** (1) බර්තෝලමියු ඩයස් - අප්‍රිකාවේ දකුණු තුඩුවට යාත්‍රා කිරීම
(2) වස්කෝ ද ගාමා - කැලිකට් වෙත යාත්‍රා කිරීම
(3) ක්‍රිස්ටෝෆර් කොලම්බස් - කැරිබියන් දූපත්වලට ගොඩ බැසීම
(4) ෆ්‍රැන්සිස් ඩ්‍රේක් - මෙක්සිකෝව යටත් කිරීම
(5) ෆ්‍රැන්සිස්කෝ පිසාරෝ - පේරු යටත් කිරීම (………)

● අංක **16** සිට **25** තෙක් එක් එක් ප්‍රශ්නයෙහි නාම / ප්‍රකාශන / දින වකවානු සමූහයක් **X** සහ **Y** තීරවල දී ඇත. **Y** තීරයේ ඇති නාම / ප්‍රකාශන / දින වකවානු **X** තීරයේ දී ඇති ඒවා සමඟ කිසියම් ආකාරයකට ගැළපේ. එහෙත් ඒවා දක්වා ඇත්තේ ගැළපෙන අනුපිළිවෙළට **නොවේ. Y** තීරය, **X** තීරය සමඟ ගැළපෙන අනුපිළිවෙළට සකස් කළ විට පහත දී ඇති සංයෝග පහෙන් **එකක්** නිවැරදි ය. නිවැරදි සංයෝගයට අයත් **අංකය** තෝරා **වරහන තුළ** ලියන්න.

**16.**

| X | Y |
|---|---|
| (i) ක්ලීස්තිනීස් | A වෛද්‍ය විද්‍යාවේ පියා |
| (ii) හෙරඩෝටස් | B 'විද්‍යාත්මක' සමාජවාදයේ ආරම්භකයා |
| (iii) හිපොක්‍රටීස් | C මානවවාදයේ පියා |
| (iv) පෙට්රාක් | D ඇතීනියානු ප්‍රජාතන්ත්‍රවාදයේ පියා |
| (v) කාල් මාක්ස් | E ඉතිහාසයේ පියා |

(1) BEACD (2) CEABD (3) DCEAB (4) DEACB (5) EDACB (………)

| | X | | Y |
|---|---|---|---|
| **17.** (i) | ප්ලේටෝ | A | "කුමාරයා, සිංහයා සහ හිවලා අනුකරණය කළ යුතු ය.' |
| (ii) | ඇරිස්ටෝටල් | B | "වැඩිම සංඛ්‍යාවකගේ වැඩිම සතුට" |
| (iii) | මැකියාවෙලි | C | 'බලතල පංගු කිරීමේ න්‍යාය' |
| (iv) | මොන්ටෙස්කිව් | D | "මිනිසා දේශපාලන සත්ත්වයෙකි." |
| (v) | ජෙරමි බෙන්තම් | E | "දාර්ශනිකයෝ පාලකයන් විය යුත්තාහ." |

(1) BEACD (2) CEABD (3) DCEAB (4) DEACB (5) EDACB (………)

| | X | | Y |
|---|---|---|---|
| **18.** (i) | මිලාන් ආඥාව | A | පාලනය කරන්නේ යමෙක් ද ඔහුගේ ආගම රටවැසියාගේ ද ආගම විය යුතු ය. |
| (ii) | නැන්ටීස් ආඥාව | B | කතෝලික ආගම ප්‍රංශයේ බහුතරයකගේ ආගම ලෙස පිළිගැනීම |
| (iii) | ඔග්ස්බර්ග් සාම ගිවිසුම | C | ක්‍රිස්තු භක්තිකයන්ට ආගමික නිදහස ප්‍රදානය කිරීම |
| (iv) | 1801 කොන්කෝඩට් සම්මුතිය | D | වතිකානුව ස්වෛරී රාජ්‍යයක් ලෙසත්, කතෝලික ආගම ඉතාලියේ රාජ්‍ය ආගම ලෙසත් පිළිගැනීම |
| (v) | ලැටරන් ගිවිසුම | E | ප්‍රංශයේ ප්‍රොතෙස්තාන්තවාදීන්ට ආගමික නිදහස ප්‍රදානය කිරීම |

(1) BEACD (2) CEABD (3) DCEAB (4) DEACB (5) EDACB (………)

| | X | | Y |
|---|---|---|---|
| **19.** (i) | මිලේච්ඡ ආක්‍රමණ | A | ප්‍රංශ විප්ලවය |
| (ii) | කොන්ස්තන්තිනෝපලයේ වැටීම | B | බටහිර රෝම අධිරාජ්‍යයේ බිඳවැටීම |
| (iii) | මූල්‍ය අර්බුදය සහ එස්ටේට්ස් ජෙනරල් සභාව කැඳවීම | C | පළමුවන ලෝක යුද්ධය |
| (iv) | සරයේවෝහි ඝාතනය | D | දෙවන ලෝක යුද්ධය |
| (v) | ජර්මනිය විසින් පෝලන්තය ආක්‍රමණය කිරීම | E | පුනරුදය |

(1) BEACD (2) CEABD (3) DCEAB (4) DEACB (5) EDACB (………)

| | X | | Y |
|---|---|---|---|
| **20.** (i) | කැල්වින්වාදීහු | A | එංගලන්තය |
| (ii) | හියුගනෝවරු | B | ඕලන්දය |
| (iii) | පියුරිටන්වරු | C | ස්කොට්ලන්තය |
| (iv) | ප්‍රෙස්බිටීරියන්වරු | D | ස්විට්සර්ලන්තය |
| (v) | රෙපරමාදු පල්ලියේ සාමාජිකයෝ | E | ප්‍රංශය |

(1) BEACD (2) CEABD (3) DCEAB (4) DEACB (5) EDACB (………)

| | X | | Y |
|---|---|---|---|
| **21.** (i) | රොබට් වොල්පෝල් | A | ප්‍රංශයේ පස්වැනි සමූහාණ්ඩුවේ පළමුවන ජනාධිපතිවරයා |
| (ii) | මාර්ෂල් ටිටෝ | B | සෝවියට් දේශයේ අවසාන ජනාධිපතිවරයා |
| (iii) | කොන්රඩ් ඇඩිනුවර් | C | යුගෝස්ලාවියාවේ ජනාධිපතිවරයා |
| (iv) | චාල්ස් ඩි ගෝල් | D | එංගලන්තයේ ප්‍රථම අගමැතිවරයා |
| (v) | මිහායල් ගොර්බචොෆ් | E | ජර්මන් ෆෙඩරල් සමූහාණ්ඩුවේ ප්‍රථම චාන්සලර්වරයා |

(1) BEACD (2) CEABD (3) DCEAB (4) DEACB (5) EDACB (………)

| | X | Y |
|---|---|---|
| 22. | (i) ලිගුරියන්, සිසැල්පයින් හා පාර්තිනෝපියන් සමූහාණ්ඩු | A මැසිනි |
| | (ii) 'හුදු භූගෝලීය ප්‍රකාශයක් පමණකි.' | B නැපෝලියන් බොනපාර්ට් |
| | (iii) තරුණ ඉතාලිය | C ගැරිබෝල්ඩි |
| | (iv) රතු කමිස හමුදාව | D දෙවන වික්ටර් එමැනුවෙල් රජතුමා |
| | (v) එක්සත් කරන ලද ඉතාලිය | E මෙටර්නික් |

(1) BEACD (2) CEABD (3) DCEAB (4) DEACB (5) EDACB (.........)

| | X | Y |
|---|---|---|
| 23. | (i) වර්සායි ගිවිසුම | A බල්ගේරියාව |
| | (ii) ශා. ජර්මේන් ගිවිසුම | B තුර්කිය |
| | (iii) නියුලි ගිවිසුම | C හංගේරියාව |
| | (iv) ට්‍රියනොන් ගිවිසුම | D ජර්මනිය |
| | (v) ලොසැන් ගිවිසුම | E ඔස්ට්‍රියාව |

(1) BEACD (2) CEABD (3) DCEAB (4) DEACB (5) EDACB (.........)

| | X | Y |
|---|---|---|
| 24. | (i) එක්සත් ජාතීන්ගේ ළමා අරමුදල (UNICEF) | A වොෂිංටන් |
| | (ii) එක්සත් ජාතීන්ගේ අධ්‍යාපන විද්‍යාත්මක හා සංස්කෘතික සංවිධානය (UNESCO) | B වියානා |
| | (iii) ලෝක බැංකුව | C ජිනීවා |
| | (iv) ලෝක සෞඛ්‍ය සංවිධානය (WHO) | D පැරිස් |
| | (v) අන්තර්ජාතික න්‍යෂ්ටික බල ඒජන්සිය (IAEA) | E නිව්යෝර්ක් |

(1) BEACD (2) CEABD (3) DCEAB (4) DEACB (5) EDACB (.........)

| | X | Y |
|---|---|---|
| 25. | (i) ට්‍රිග්වි ලී | A බුරුමය |
| | (ii) ඩැග් හැමර්ෂල් | B ඔස්ට්‍රියාව |
| | (iii) ඌ තාන් | C නෝර්වේ |
| | (iv) කුර්ට් වෝල්ඩ්හයිම් | D පේරු |
| | (v) පෙරේස් ඩී කුවෙලා | E ස්වීඩන් |

(1) BEACD (2) CEABD (3) DCEAB (4) DEACB (5) EDACB (.........)

- අංක **26** සිට **30** තෙක් එක් එක් ප්‍රශ්නයට දක්වා ඇති **(A), (B), (C)** සහ **(D)** යන ප්‍රතිචාර හතර අතුරෙන් **එකක් හෝ කිහිපයක් හෝ** නිවැරදි ය. නිවැරදි ප්‍රතිචාරය හෝ ප්‍රතිචාර හෝ තෝරා,

**(A)** සහ **(B)** පමණක් නිවැරදි නම් ........................................ **1** ද,
**(B)** සහ **(C)** පමණක් නිවැරදි නම් ........................................ **2** ද,
**(C)** සහ **(D)** පමණක් නිවැරදි නම් ........................................ **3** ද,
**(A)** සහ **(C)** පමණක් නිවැරදි නම් ........................................ **4** ද,
ප්‍රතිචාර **එකක්** හෝ **දෙකකට වැඩි** සංඛ්‍යාවක් හෝ නිවැරදි නම් ............. **5** ද **වරහන තුළ** ලියන්න.

| **උපදෙස් සම්පිණ්ඩනය** | | | | |
|---|---|---|---|---|
| **1** | **2** | **3** | **4** | **5** |
| **(A)** සහ **(B)** පමණක් නිවැරදි ය. | **(B)** සහ **(C)** පමණක් නිවැරදි ය. | **(C)** සහ **(D)** පමණක් නිවැරදි ය. | **(A)** සහ **(C)** පමණක් නිවැරදි ය. | ප්‍රතිචාර **එකක්** හෝ **දෙකකට වැඩි** සංඛ්‍යාවක් හෝ නිවැරදි ය. |

**26.** **පහත දැක්වෙන්නන් අතුරෙන් ඇතැන්ස් රාජ්‍යයේ පාලකයෝ කවරහු ද?**

(A) සෝලෝන් (B) සර්ක්සීස්
(C) පෙරික්ලීස් (D) හැනිබාල් (.........)

**27.** **පහත දැක්වෙන්නන් අතුරෙන් රෝම අධිරාජයෝ කවරහු ද?**

(A) ජුලියස් සීසර් (B) පොම්පේ
(C) ඔගස්ටස් (D) තියඩෝසියස් (.........)

**28.** **වැඩවසම් ක්‍රමය සම්බන්ධයෙන් පහත දැක්වෙන කවර ප්‍රකාශය/ප්‍රකාශ නිවැරදි වේ ද?**

(A) මධ්‍යකාලීන යුරෝපයේ පැවති දේශපාලන හා සමාජ-ආර්ථික ක්‍රමය වැඩවසම් ක්‍රමය ලෙස හඳුන්වනු ලැබේ.
(B) වැඩවසම් ආර්ථිකය කෘෂිකර්මාන්තය පදනම් කොටගෙන පැවතුණි.
(C) වැඩවසම් රාජ්‍යවල ශක්තිමත් මධ්‍යම ආණ්ඩුවක් පැවතුණි.
(D) රජවරුන් සතුව ශක්තිමත් ස්ථාවර හමුදා තිබුණි. (.........)

**29.** **පහත දැක්වෙන කරුණු අතුරෙන් ප්‍රතිරෙපරමාදුවේ ප්‍රධාන අංග කවරේ ද?**

(A) ජර්මනියේ ලූතර්වාදී පල්ලිය (B) ජේසු සංගමය
(C) ට්‍රෙන්ට් සංගායනාව (D) කතෝලික සංගමය (.........)

**30.** **නිරවි යුද්ධය සම්බන්ධයෙන් පහත දැක්වෙන කවර ප්‍රකාශය/ප්‍රකාශ නිවැරදි වේ ද?**

(A) අමෙරිකා එක්සත් ජනපදය හා සෝවියට් දේශය මුල් කොටගත් බල කඳවුරු දෙක අතර පැවැති දෘෂ්ටිවාදීමය, දේශපාලන හා රාජ්‍ය තාන්ත්‍රික අරගලයයි.
(B) 1949 දී උතුරු අත්ලාන්තික් ගිවිසුම් සංවිධානය පිහිටුවීම
(C) 1955 දී වෝර්සෝ සම්මුතිය අත්සන් කිරීම
(D) 1989 දී යුද්ධය අවසන් වී යැයි සාමාන්‍යයෙන් සලකනු ලැබේ. (.........)

● අංක **31** සිට **35** තෙක් සෑම ප්‍රශ්නයක ම එක් මාතෘකාවක් යටතේ කරුණු **පහ** බැගින් සපයා ඇත. එම කරුණු අතුරෙන් එකක් අදාළ මාතෘකාවට **නොගැළපේ.** එම **නොගැළපෙන** කරුණ තෝරා, එහි **අංකය** ඉදිරියේ ඇති **වරහන තුළ** ලියන්න.

**31.** **කාර්මික විප්ලව සමයේ ප්‍රධාන නව නිපදවීම්**

(1) සුළං මෝල (2) දුවන නඩාව (3) ස්පිනිං ජෙනිය
(4) ජල රාමුව (5) වාෂ්ප එන්ජිම (.........)

**32.** **ප්‍රංශ විප්ලවය හා සම්බන්ධ ප්‍රධාන සිදුවීම්**

(1) ටෙනිස් පිටියේ දිවුරුම (2) බොස්ටන් තේ සාදය
(3) බැස්ටිලය බිඳ දැමීම (4) මිනිස් හා පුරවැසි අයිතිවාසිකම් ප්‍රකාශනය
(5) දහසයවන ලුවී රජතුමා මරණයට පත් කිරීම (.........)

**33.** **වියානා සම්මේලනයට සහභාගී වූ ප්‍රධාන නායකයන්**

(1) ඔස්ට්‍රියාවේ මෙටර්නික් (2) ප්‍රශියාවේ හාර්ඩන්බර්ග්
(3) බ්‍රිතාන්‍යයේ කාසල්රී (4) රුසියාවේ පළමුවන සාර් ඇලෙක්සැන්ඩර් රජතුමා
(5) සාර්ඩිනියාවේ කැවූර් (.........)

**34.** **දෙවන ලෝක යුද්ධය ඇති වීමට තුඩු දුන් හේතු**

(1) වර්සායි ගිවිසුමේ අඩුපාඩු (2) ඉතාලිය තුළ ෆැසිස්ට්වාදය නැඟී ඒම
(3) ජර්මනිය තුළ නට්සිවාදය නැඟී ඒම (4) රුසියානු - තුර්කි යුද්ධය හා බෝල්කන් අර්බුදය
(5) අවි ආයුධ තරගය (.........)

**35.** **සෝවියට් දේශයේ පාලකයන්**

(1) නිකිතා කෲෂෙෆ් (2) ඇලෙක්සි කොසිගින් (3) යූරි ගගාරින්
(4) ලියොනිඩ් බ්‍රෙෂ්නෙෆ් (5) අන්ද්‍රපොෆ් (.........)

- අංක **36** සිට **40** තෙක් ප්‍රශ්නවලට අදාළව ප්‍රකාශ දෙක බැගින් දී ඇත. එක් එක් ප්‍රශ්නය සම්බන්ධයෙන් දී ඇති ප්‍රකාශ යුගලයට හොඳින් ම ගැළපෙනුයේ පහත වගුවෙහි දැක්වෙන **1, 2, 3, 4** සහ **5** යන කවර ප්‍රකාශ යුගලය දැ'යි තෝරා ඊට අදාළ **අංකය වරහන තුළ** ලියන්න.

| | පළමුවැනි ප්‍රකාශය | දෙවැනි ප්‍රකාශය |
|---|---|---|
| **1** | නිවැරදි ය. | වැරදි ය. |
| **2** | නිවැරදි ය. | නිවැරදි ය. |
| **3** | වැරදි ය. | වැරදි ය. |
| **4** | වැරදි ය. | නිවැරදි ය. |
| **5** | නිවැරදි ය. | නිවැරදි වන අතර **පළමුවැන්න** මැනවින් පහදා දෙයි. |

| | පළමුවැනි ප්‍රකාශය | දෙවැනි ප්‍රකාශය | |
|---|---|---|---|
| **36.** | පර්සියානුවන්ට එරෙහිව කරන ලද ග්‍රීක යුද්ධ පදනම් කරගෙන හෝමර් සිය වීර කාව්‍ය රචනා කළේ ය. | රෝම රාජ්‍ය තාන්ත්‍රිකයකු වූ සිසරෝ 'කුමාරයා' නම් ග්‍රන්ථයේ කතුවරයා ය. | (.........) |
| **37.** | හතරවන සියවසේ ආරම්භය දක්වා රෝම අධිරාජයෝ ක්‍රිස්තියානි ආගම අතුගා දැමීමේ අරමුණින් ක්‍රිස්තියානි භක්තිකයින්ට විරුද්ධව වරින්වර වධහිංසා කිරීම්වල යෙදුනාහ. | කොන්ස්ටන්ටයින් අධිරාජයා විසින් නැගෙනහිර හා බටහිර යනුවෙන් රෝම අධිරාජ්‍යය කොටස් දෙකකට බෙදනු ලැබී ය. | (.........) |
| **38.** | වාණිජවාදයේ ප්‍රධාන ලක්ෂණයක් නම් ආර්ථික කටයුතුවලට රජය මැදිහත් වීමයි. | වෝල්ටෙයාර් විසින් මුලින්ම වාණිජවාදී න්‍යාය ඉදිරිපත් කරන ලදී. | (.........) |
| **39.** | වෙස්ට්ෆේලියා සාම ගිවිසුම නූතන යුරෝපා ඉතිහාසයේ ආගමික හා දේශපාලන යන දෙඅංශයෙහිම සන්ධිස්ථානයක් සලකුණු කරයි. | ආගමික යුද්ධය අවසන් කළ වෙස්ට්ෆේලියා සාම ගිවිසුම, යුරෝපයේ වර්තමාන රාජ්‍ය ක්‍රමය සඳහා පදනම දමන ලදැයි සැලකේ. | (.........) |
| **40.** | ජෝශප් ස්ටාලින් බටහිර රටවල් සමඟ සාමකාමී සහජීවන ප්‍රතිපත්තියක් ආරම්භ කළේ ය. | බර්ලින් තාප්පය කඩා බිඳහෙළීම බටහිර හා නැගෙනහිර ජර්මන් රාජ්‍යවල එක්සත්භාවයට මඟ පෑදී ය. | (.........) |

* *

සියලු ම හිමිකම් ඇවිරිණි / முழுப் பதிப்புரிமையுடையது / All Rights Reserved]

ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව
இலங்கைப் பரீட்சைத் திணைக்களம் இலங்கைப் பரீட்சைத் திணைக்களம்
Department of Examinations, Sri Lanka Department of Examinations, Sri Lanka

ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව
இலங்கைப் பரீட்சைத் திணைக்களம்
Department of Examinations, Sri Lanka

අධ්‍යයන පොදු සහතික පත්‍ර (උසස් පෙළ) විභාගය, 2018 අගෝස්තු
கல்விப் பொதுத் தராதரப் பத்திர (உயர் தர)ப் பரீட்சை, 2018 ஓகஸ்ற்
General Certificate of Education (Adv. Level) Examination, August 2018

| | | |
|---|---|---|
| ඉතිහාසය II<br>வரலாறு II<br>History II | 25-B | S |

ප්‍රශ්න අංකය / வினா இல. / Question No. **1**

විභාග අංකය / சுட்டெண் / Index No. ..................................



සියලු ම හිමිකම් ඇවිරිණි / முழுப் பதிப்புரிமையுடையது /All Rights Reserved]

ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව
இலங்கைப் பரீட்சைத் திணைக்களம் இலங்கைப் பரீட்சைத் திணைக்களம்
Department of Examinations, Sri Lanka Department of Examinations, Sri Lanka

ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව
இலங்கைப் பரீட்சைத் திணைக்களம்
Department of Examinations, Sri Lanka

අධ්‍යයන පොදු සහතික පත්‍ර (උසස් පෙළ) විභාගය, 2018 අගෝස්තු
கல்விப் பொதுத் தராதரப் பத்திர (உயர் தர)ப் பரீட்சை, 2018 ஓகஸ்ற்
General Certificate of Education (Adv. Level) Examination, August 2018

ඉතිහාසය II (II කොටස)
வரலாறு II (பகுதி II)
History II (Part II)

25-B S II

**යුරෝපා ඉතිහාසය - ඈත අතීතයේ සිට ක්‍රි.ව. 1989 දක්වා**

**උපදෙස්:**
※ **පළමුවැනි** ප්‍රශ්නයටත් තවත් ප්‍රශ්න **තුනකටත්** පිළිතුරු සපයන්න.
(**පළමුවැනි** ප්‍රශ්නයට පිළිතුරු සැපයීම සඳහා **යුරෝපයේ දළ සිතියමක්** සපයා ඇත.)

## II කොටස

**1.** ඔබට සපයා ඇති සිතියමේ පහත සඳහන් **සියලු ම ස්ථාන ලකුණු කොට නම් කරන්න.** ඒවායින් කැමති **දෙකක්** පිළිබඳ ව කෙටි ඓතිහාසික සටහන් ලියන්න.

(i) කෝර්සිකා (ii) පිරනීස් (iii) රයින් ගඟ
(iv) කළු මුහුද (v) ලන්ඩන් (vi) බර්ලින්
(vii) ශාන්ත පීටර්ස්බර්ග් (viii) ස්විට්සර්ලන්තය

*(නිවැරදි ව ලකුණු කිරීමට හා නම් කිරීමට ලකුණු **01** බැගින්; කෙටි ඓතිහාසික සටහනකට ලකුණු **05** බැගින්)*

**2.** ග්‍රීක සංස්කෘතියේ ප්‍රධාන ලක්ෂණ පරීක්ෂා කරන්න. *(ලකුණු 14යි)*

**3.** "පුනරුදය යුරෝපා ශිෂ්ටාචාරයේ වර්ධනයේ සන්ධිස්ථානයක් සලකුණු කරයි."

(i) පුනරුදය ආරම්භ වූ රට නම් කරන්න. *(ලකුණු 01යි)*

(ii) පුනරුදයට අනුග්‍රහය දැක්වූ **දෙදෙනෙකු** නම් කරන්න. *(ලකුණු 02යි)*

(iii) පුනරුදය ඇතිවීමට තුඩු දුන් ප්‍රධාන සාධක සැකෙවින් දක්වන්න. *(ලකුණු 04යි)*

(iv) කලාව හා දේශපාලන දර්ශනය යන ක්ෂේත්‍රවල ඇති වූ ප්‍රබෝධය කෙරෙහි විශේෂ අවධානය යොමු කරමින් පුනරුදය යුරෝපා ශිෂ්ටාචාරයේ වර්ධනයේ සන්ධිස්ථානයක් සලකුණු කරන්නේ කෙසේ දැයි පරීක්ෂා කරන්න. *(ලකුණු 07යි)*

**4.** (i) පහළොස්වන හා දහසයවන සියවස්වල යුරෝපයේ ජාතික රාජ්‍ය නැගී ඒමට තුඩුදුන් සාධක කවරේ ද? *(ලකුණු 06යි)*

(ii) ජාතික රාජ්‍යවල ප්‍රධාන ලක්ෂණ පරීක්ෂා කරන්න. *(ලකුණු 08යි)*

**5.** (i) අමෙරිකානු නිදහස් සටන ඇති වීමට තුඩු දුන් ප්‍රධාන සාධක විග්‍රහ කරන්න. *(ලකුණු 06යි)*

(ii) අමෙරිකානු නිදහස් සටනෙන් උද්ගත වූ ප්‍රධාන ප්‍රතිඵල පරීක්ෂා කරන්න. *(ලකුණු 08යි)*

**6.** (i) 1815 සිට 1848 දක්වා ජර්මනිය එක්සේසත් කිරීමට එරෙහිව පැවති ප්‍රධාන බාධක ගෙනහැර දක්වන්න. *(ලකුණු 06යි)*

(ii) 1862 සිට 1871 දක්වා ජර්මනිය එක්සේසත් කිරීම සඳහා බිස්මාක් අනුගමනය කළ ක්‍රියාමාර්ගය විවේචනාත්මකව විමසන්න. *(ලකුණු 08යි)*

[අටවැනි පිටුව බලන්න.

**7.** "යුරෝපය බල කඳවුරු දෙකකට බෙදීම පළමුවන ලෝක යුද්ධය ඇති වීමට තුඩු දුන් ප්‍රධානතම හේතුව විය."

(i) පළමුවන ලෝක යුද්ධය ඇති වීමට තුඩු දුන් ආසන්නතම සිද්ධිය කුමක් ද? *(ලකුණු 01යි)*

(ii) එකිනෙකට විරුද්ධ බල කඳවුරු දෙකට අයත් වූ රටවල් **දෙක** බැගින් නම් කරන්න. *(ලකුණු 02යි)*

(iii) යුරෝපය බල කඳවුරු දෙකකට බෙදී ගිය අයුරු පැහැදිලි කරන්න. *(ලකුණු 04යි)*

(iv) යුරෝපය බල කඳවුරු දෙකකට බෙදීම පළමුවන ලෝක යුද්ධය ඇති වීමට කෙතෙක් දුරට හේතු වී දැයි පරීක්ෂා කරන්න. *(ලකුණු 07යි)*

**8.** රුසියාවේ බලය අත්පත් කරගැනීමෙන් පසු බොල්ෂෙවික්වරුන් විසින් 1924 දක්වා ඇති කරන ලද ප්‍රතිසංස්කරණ පරීක්ෂා කරන්න. *(ලකුණු 14යි)*

**9.** **එක්කෝ (A)** කොටසට **නැතහොත් (B)** කොටසට පමණක් පිළිතුරු සපයන්න.

**(A)** (i) එක්සත් ජාතීන්ගේ සංවිධානයේ ප්‍රධාන අරමුණු සැකෙවින් දක්වන්න. *(ලකුණු 05යි)*

(ii) එම සංවිධානය එකී අරමුණු සාර්ථක කර ගැනීමට කෙතෙක්දුරට සමත් වී දැයි පරීක්ෂා කරන්න. *(ලකුණු 09යි)*

**(B)** පහත දැක්වෙන මාතෘකා අතුරෙන් ඕනෑම **දෙකක** ඓතිහාසික වැදගත්කම පිළිබඳ ව කෙටි සටහන් ලියන්න.

(i) අධිරාජ්‍යයේ ආරම්භය තෙක් රෝමයේ ඇති වූ ආණ්ඩුක්‍රම වෙනස්වීම්

(ii) වැඩවසම් ක්‍රමයේ පිරිහීම

(iii) පෘතුගීසීන් නිරත වූ දේශ ගවේෂණ

(iv) 1688 ඉංග්‍රීසි විප්ලවය

(v) යුරෝපා සම්මේලන ක්‍රමය

(vi) අන්තර් යුද්ධ සමයේ ආඥාදායක පාලන ක්‍රම

*(එක් කෙටි සටහනකට ලකුණු 07 බැගිනි)*

* * *

23167

AL/2018/25-A/S-II

සියලු ම හිමිකම් ඇවිරිණි / முழுப் பதிப்புரிமையுடையது /All Rights Reserved]

ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව
இலங்கைப் பரீட்சைத் திணைக்களம் இலங்கைப் பரீட்சைத் திணைக்களம்
Department of Examinations, Sri Lanka Department of Examinations, Sri Lanka Department of Examinations, Sri Lanka

අධ්‍යයන පොදු සහතික පත්‍ර (උසස් පෙළ) විභාගය, 2018 අගෝස්තු
கல்விப் பொதுத் தராதரப் பத்திர (உயர் தர)ப் பரீட்சை, 2018 ஓகஸ்ற்
General Certificate of Education (Adv. Level) Examination, August 2018

ඉතිහාසය II (I කොටස)
வரலாறு II (பகுதி I)
History II (Part I)

25 - A | S | II

2018.08.23 / 0830 - 1140

පැය තුනයි
மூன்று மணித்தியாலம்
Three hours

අමතර කියවීම් කාලය - මිනිත්තු 10 යි
மேலதிக வாசிப்பு நேரம் - 10 நிமிடங்கள்
Additional Reading Time - 10 minutes

**අමතර කියවීම් කාලය ප්‍රශ්න පත්‍රය කියවා ප්‍රශ්න තෝරා ගැනීමටත් පිළිතුරු ලිවීමේදී ප්‍රමුඛත්වය දෙන ප්‍රශ්න සංවිධානය කර ගැනීමටත් යොදාගන්න.**

**ඉන්දියා ඉතිහාසය - ඈත අතීතයේ සිට ක්‍රි.ව. 1206 දක්වා**

විභාග අංකය: ..................................

**උපදෙස්:**

* මෙම කොටස ප්‍රශ්න **40** කින් සමන්විත වේ. **සියලු ම** ප්‍රශ්නවලට **මෙම ප්‍රශ්න පත්‍රයේ ම** පිළිතුරු සපයන්න.
* එක් එක් ප්‍රශ්නයට ප්‍රතිචාර **පහ** බැගින් දී ඇති නමුදු නිවැරදි පිළිතුර වන්නේ **එකක්** පමණි. එම නිවැරදි පිළිතුර තෝරා, දී ඇති **උපදෙස් පරිදි ලකුණු කරන්න.**
* මෙම කොටසට ලකුණු **40** ක් දෙනු ලැබේ.
* කොටස් **දෙකට ම** මුළු කාලය **පැය තුනකි.** පිළිතුරු ලියා අවසන් වූ පසු, **I කොටස**, **II කොටසේ** පිළිතුරු පත්‍ර සමඟ **අමුණා භාර දෙන්න.**

## I කොටස

● අංක **1** සිට **10** තෙක් එක් එක් ප්‍රශ්නය සඳහා නම් **පහ** බැගින් දී ඇත. ඒවා අතුරෙන් **එකක්** පමණක් කවර හෝ හේතුවක් නිසා අනෙක් නම් සමඟ **නොගැළපේ.** එම **නොගැළපෙන** නම කුමක් දැ'යි හඳුනාගෙන එහි **අංකය වරහන තුළ** ලියන්න.

1. (1) හින්දුකුෂ් (2) සුලෙයිමාන් (3) නිල්ගිරි (4) කිර්තාර් (5) හිමාලයා (......)

2. (1) සොග්‍රා (2) ජේලම් (3) චෙනබ් (4) බියස් (5) රාවි (......)

3. (1) ශාකුන්තල (2) මාලවිකාග්නිමිත්‍ර (3) වික්‍රමෝර්වශි
(4) රත්නාවලී (5) කුමාරසම්භව (......)

4. (1) මස්කි ලිපිය (2) ගිරිනාර් ලිපිය (3) රුම්න්දෙයි ලිපිය
(4) කෞශම්බි ලිපිය (5) නාසික් ලිපිය (......)

5. (1) ස්ට්‍රාබෝ (2) මෙගස්තීනිස් (3) සෙලියුකස් නිකේටර්
(4) ප්ලිනි (5) ටොලමි (......)

6. (1) දෙමළ (2) කණ්ණඩ (3) මරාඨී
(4) තෙලිඟු (5) මලයාලම් (......)

7. (1) කාර්ලේ (2) ඇල්ලෝරා (3) අජන්තා
(4) භාග් (5) සාරානාත් (......)

8. (1) අනු (2) යදු (3) තුර්වාස (4) සුදාස් (5) පුරු (......)

9. (1) කාසි (2) කෝසල (3) අංග (4) මගධ (5) වජ්ජි (......)

10. (1) සිමුක (2) කෘෂ්ණ (3) නහපාන
(4) පළමුවන සාතකර්ණි (5) ගෞතමීපුත්‍ර සාතකර්ණි (......)

[දෙවැනි පිටුව බලන්න.

● අංක **11** සිට **15** තෙක් ප්‍රශ්නවල **පද යුගල පහ** බැගින් දී ඇත. ඒවා අතුරෙන් එක යුගලයක පද එකිනෙකට **නොගැළපේ.** එම **නොගැළපෙන** යුගලය කුමක් දැ'යි හඳුනාගෙන, ඊට අදාළ **අංකය,** ඉදිරියේ ඇති **වරහන තුළ** ලියන්න.

**11.** (1) වරුණ - ආකාශයට අධිපති
(2) අග්නි - ගින්නට අධිපති
(3) පෘථිවි - පොළොවට අධිපති
(4) ඉන්ද්‍ර - සත්ව වර්ගයාට අධිපති
(5) උෂා - උදයට අධිපති දෙවඟන (.........)

**12.** (1) පාණිණි - අෂ්ටාධ්‍යාය
(2) වාල්මිකි - රාමායනය
(3) භාරවි - කිරාතාර්ජුන
(4) දන්ඩින් - දශකුමාර චරිතය
(5) පතංජලී - පංචතන්ත්‍රය (.........)

**13.** (1) වරංගල් - කාකටීය
(2) ද්වාරසමුද්‍ර - හොයිසාල
(3) මදුරෙයි - චෝල
(4) දේවගිරි - යාදව
(5) කාංචි - පල්ලව (.........)

**14.** (1) අයිහෝලේ සෙල්ලිපිය - දෙවන පුලකේෂින්
(2) ධෞලි සෙල්ලිපිය - සමුද්‍රගුප්ත
(3) ජුනාගර්ඩ් සෙල්ලිපිය - රුද්‍රදාමන්
(4) භිටරි සෙල්ලිපිය - දෙවන චන්ද්‍රගුප්ත
(5) දිල්ලි තෝප්‍රා ලිපිය - අශෝක (.........)

**15.** (1) මදුරෙයි කොණ්ඩ - පළමුවන පරන්තක
(2) අමිත්‍රඝාත - බින්දුසාර
(3) සකල උත්තරාපථ නාථ - හර්ෂවර්ධන
(4) කවිරාජ් - කනිෂ්ක
(5) වාතාපිකොණ්ඩ - නරසිංහවර්මන් (.........)

● අංක **16** සිට **20** තෙක් එක් එක් ප්‍රශ්නයෙහි නාම / ප්‍රකාශන / දින වකවානු සමූහයක් **X** සහ **Y** තීරවල දී ඇත. **Y** තීරයේ දී ඇති නාම / ප්‍රකාශන / දින වකවානු **X** තීරයේ දී ඇති ඒවා සමඟ කිසියම් ආකාරයකට ගැළපේ. එහෙත් ඒවා දක්වා ඇත්තේ ගැළපෙන අනුපිළිවෙළට **නො වේ. Y** තීරය **X** තීරය සමඟ ගැළපෙන අනුපිළිවෙළට සකස් කළ විට පහත ඇති සංයෝග පහෙන් **එකක්** නිවැරදි ය. නිවැරදි සංයෝගයට අයත් **අංකය** තෝරා **වරහන තුළ** ලියන්න.

| | **X** | | **Y** |
|---|---|---|---|
| **16.** (i) | ක්‍රි.පූ. 327 | A | I වන රාජේන්ද්‍ර චෝළ රජවීම |
| (ii) | ක්‍රි.පූ. 269 | B | ඇලෙක්සැන්ඩර්ගේ ඉන්දියානු ආක්‍රමණය |
| (iii) | ක්‍රි.ව. 78 | C | හර්ෂවර්ධන රජවීම |
| (iv) | ක්‍රි.ව. 606 | D | කනිෂ්ක රජවීම |
| (v) | ක්‍රි.ව. 1016 | E | අශෝක රජවීම |

(1) ADCBE (2) BEDCA (3) CAEDB (4) DBAEC (5) ECBAD (.........)

| | **X** | | **Y** |
|---|---|---|---|
| **17.** (i) | නර්මදා | A | රූපාර් |
| (ii) | කාවේරි | B | පාටලීපුත්‍ර |
| (iii) | ගංගා | C | කංජේවර් |
| (iv) | සත්ලෙජ් | D | හරප්පා |
| (v) | රාවි | E | භාරුකච්ඡ |

(1) ADCBE (2) BEDCA (3) CAEDB (4) DBAEC (5) ECBAD (.........)

| | X | | Y |
|---|---|---|---|
| **18.** (i) | අශ්වඝෝෂ | A | බෘහද්සංහිතා |
| (ii) | කල්හන | B | මහාවිභාෂශාස්ත්‍ර |
| (iii) | පළමුවන මහේන්ද්‍රවර්මන් | C | මුද්‍රාරාක්ෂ |
| (iv) | විශාඛදත්ත | D | මත්තවිලාශප්‍රහසන |
| (v) | වරාහමිහිර | E | රාජතරංගිණී |

(1) ADCBE (2) BEDCA (3) CAEDB (4) DBAEC (5) ECBAD (.........)

| | X | | Y |
|---|---|---|---|
| **19.** (i) | භාගදුග | A | බදු |
| (ii) | ශුල්ක | B | භාණ්ඩාගාරික |
| (iii) | පුර | C | බදු එකතු කරන්නා |
| (iv) | සූත | D | රථාචාර්ය |
| (v) | සංගෘහිත | E | බලකොටුව |

(1) ADCBE (2) BEDCA (3) CAEDB (4) DBAEC (5) ECBAD (.........)

| | X | | Y |
|---|---|---|---|
| **20.** (i) | මවුස් | A | පල්ලව |
| (ii) | අග්නිමිත්‍ර | B | සුංග |
| (iii) | විෂ්ණුගෝප | C | පාල |
| (iv) | වත්සරාජ | D | ශක |
| (v) | ආනන්දපාල | E | ප්‍රතිහාර |

(1) ADCBE (2) BEDCA (3) CAEDB (4) DBAEC (5) ECBAD (.........)

- අංක **21** සිට **25** තෙක් සෑම ප්‍රශ්නයකට ම නිවැරදි පිළිතුර තෝරා, එහි **අංකය** ඉදිරියේ ඇති **වරහන තුළ** ලියන්න.

**21. පැරණි ධාන්‍යාගාරයක නටබුන් සොයාගත් ඉන්දුනිම්න නගරය කුමක් ද?**

(1) මොහෙන්ජෝදාරෝ (2) හරප්පා (3) කලිබංගන්
(4) ලෝතාල් (5) චන්හුදාරො (.........)

**22. මහායාන ග්‍රන්ථ වැඩි වශයෙන් ලියැවුනේ කුමන භාෂාවෙන් ද?**

(1) පාලි (2) සංස්කෘත (3) මාගධී
(4) ප්‍රාකෘත (5) හින්දි (.........)

**23. නාග වංශික කුමාරිකාවක් වූ කුබේරනාගා විවාහ කරගත් ගුප්ත රජු කවරෙක් ද?**

(1) පළමුවන චන්ද්‍රගුප්ත (2) සමුද්‍රගුප්ත (3) ස්කන්ධගුප්ත
(4) කුමාරගුප්ත (5) දෙවන චන්ද්‍රගුප්ත (.........)

**24. හියුං සාං භික්ෂුව අධ්‍යාපනය ලැබුවේ කුමන බෞද්ධ අධ්‍යාපන ආයතනයේ ද?**

(1) වලභි (2) නාලන්දා (3) වික්‍රමශීලා
(4) තක්ෂිලා (5) ඕදන්තිපුරි (.........)

**25. ක්‍රි.ව. 712 දී සින්ධ් ආක්‍රමණය කළ මුල්ම අරාබි ආක්‍රමණිකයා කවරෙක් ද?**

(1) මහමුද් බින් ක්වාසිම් (2) සෂ්නි මහමුද් (3) ඝෝර්හි මහමුද්
(4) කුටුබ්-උද්දීන් අයිබෙක් (5) සබුක්තිජින් (.........)

- අංක **26** සිට **30** තෙක් සෑම ප්‍රශ්නයක ම එක් මාතෘකාවක් යටතේ. කරුණු **පහ** බැගින් සපයා ඇත. එම කරුණු අතුරෙන් **එකක් අදාළ මාතෘකාවට නොගැළපේ.** එය තෝරා, ඊට අදාළ **අංකය** ඉදිරියේ ඇති **වරහන තුළ** ලියන්න.

**26. ඇලෙක්සැන්ඩර්ගේ ඉන්දියානු ආක්‍රමණ**

(1) ආකිමීනියානු රජෙකු වූ ඩේරියස් පරාජය කිරීමෙන් අනතුරුව ඇලෙක්සැන්ඩර් හින්දුකුෂ් හරහා ඉන්දියාවට ඇතුළු විය.
(2) ඔහු ගංගානම් නදිය දක්වා වූ වයඹදිග ඉන්දියානු රාජ්‍ය සියල්ලම යටත් කිරීමට සමත් විය.
(3) ඇලෙක්සැන්ඩර් ඉන්දියාව ආක්‍රමණය කළේ මගධයේ නන්දයන්ගේ රජ දවසේ දී ය.
(4) ඔහුගේ ආක්‍රමණය හේතු කොට ගෙන ඉන්දියාව හා බටහිර ලෝකය අතර නිදහස් සබඳතා ආරම්භ විය.
(5) ඇලෙක්සැන්ඩර්ගේ ඉන්දියානු ආක්‍රමණය පිළිබඳ ව ඉන්දියානු සාහිත්‍ය ග්‍රන්ථවල කිසිම සඳහනක් නොමැත.

(………)

**27. ඛාරවේල**

(1) ඛාරවේල කාලිංගයේ චේදි වංශයේ තුන්වන රජු ය.
(2) ඛාරවේල ක්‍රි. පූ. පළමුවන සියවසේ දී කාලිංගය පාලනය කළැයි විශ්වාස කෙරේ.
(3) ඔහු දැඩි ජෛන භක්තිකයෙකු විය.
(4) ඔහුගේ කාර්යසාඵල්‍යය ගැන උදයගිරි කඳුවල පිහිටි හතිගුම්පා සෙල්ලිපියෙහි විස්තර කෙරේ.
(5) ඔහුගේ මරණයෙන් පසු රාජධානිය පාණ්ඩ්‍යයන් විසින් යටත් කර ගන්නා ලදී. (………)

**28. ජෛනාගම**

(1) ව්‍රත නමින් හැඳින්වූ ප්‍රධාන ශික්ෂා පද පහක් ජෛනයන් විසින් අනුගමනය කර ඇත.
(2) ජෛනාගමේ පළමුවන තීර්ථංකර මහාවීරයි.
(3) භාවනාව අවශ්‍යයෙන් ම ප්‍රගුණ කළ යුතු එකක් ලෙස ජෛනයෝ ද සලකති.
(4) දිගම්බර හා ශ්වේතාම්බර නම් වූ ප්‍රධාන කණ්ඩායම් දෙකකට ජෛනයෝ බෙදී සිටියහ.
(5) ජෛනයන් අනුගමනය කළ ප්‍රධාන ප්‍රතිපත්තිය වූයේ අවිහිංසාවයි. (………)

**29. පාණ්ඩ්‍යයෝ**

(1) පාණ්ඩ්‍ය රාජ්‍යයේ ආරම්භකයා ලෙස සැලකෙන්නේ කඩුන්ගෝන් ය.
(2) පාණ්ඩ්‍ය රාජ්‍යය කාන්තාවන් විසින් පාලනය කරන ලද බව මෙගස්තිනීස් සඳහන් කරයි.
(3) අශෝකගේ සෙල්ලිපිවල ඔහු විසින් පාණ්ඩ්‍ය රාජ්‍යය යටත් කර ගත් බව සඳහන් කරයි.
(4) ශ්‍රී මාර ශ්‍රී වල්ලභ රජු ශ්‍රී ලංකාවේ රජතුමා පරාජය කළ බව ඉන්දිය මූලාශ්‍රවල සඳහන් වේ.
(5) චෝල පාලක පළමුවන පරන්තකට පරාජය වූ දෙවන මාරවර්මන් රාජසිංහ රජු ලංකාවට පලා ආවේ ය.

(………)

**30. වාතාපිහි චාලුක්‍යයෝ**

(1) පළමුවන පුලකේශීන් රජු වාතාපිය අගනුවර බවට පත් කරන ලදී.
(2) පළමුවන පුලකේශීන් අශ්වමේධ හා වාජ්පේය වැනි යාග පවත්වා ඇත.
(3) පල්ලව රජකු වූ පළමුවන නරසිංහවර්මන් වාතාපි ආක්‍රමණය කොට දෙවන පුලකේශීන් මරා දැමූ බව සඳහන් වේ.
(4) දැඩි බ්‍රාහ්මණ ආගම ඇදහූවන් වූ චාලුක්‍යයෝ තම රාජ්‍යය තුළ අන්‍ය ආගම් නොඉවසූහ.
(5) සමහර බ්‍රාහ්මණාගමික සිද්ධස්ථාන පිහිටි ගලෙන් නිර්මාණය කොට ඇත. (………)

- අංක **31** සිට **35** තෙක් එක් එක් ප්‍රශ්නයට දක්වා ඇති **(A)**, **(B)**, **(C)** හා **(D)** යන ප්‍රතිචාර හතර අතුරෙන් **එකක් හෝ කිහිපයක්** හෝ නිවැරදි ය. නිවැරදි ප්‍රතිචාරය හෝ ප්‍රතිචාර හෝ තෝරා,

  **(A)** සහ **(B)** පමණක් නිවැරදි නම් ........................................ **1** ද
  **(B)** සහ **(C)** පමණක් නිවැරදි නම් ........................................ **2** ද
  **(C)** සහ **(D)** පමණක් නිවැරදි නම් ........................................ **3** ද
  **(A)** සහ **(C)** පමණක් නිවැරදි නම් ........................................ **4** ද
  ප්‍රතිචාර **එකක්** හෝ **දෙකකට වැඩි** සංඛ්‍යාවක් හෝ නිවැරදි නම් .............. **5** ද **වරහන තුළ** ලියන්න.

| **උපදෙස් සම්පිණ්ඩනය** | | | | |
|---|---|---|---|---|
| **1** | **2** | **3** | **4** | **5** |
| **(A)** සහ **(B)** පමණක් නිවැරදි ය. | **(B)** සහ **(C)** පමණක් නිවැරදි ය. | **(C)** සහ **(D)** පමණක් නිවැරදි ය. | **(A)** සහ **(C)** පමණක් නිවැරදි ය. | ප්‍රතිචාර **එකක්** හෝ **දෙකකට වැඩි** සංඛ්‍යාවක් හෝ නිවැරදි ය. |

**31. වෛදික යුගය**

(A) ඍග් වේදයෙහි වින්ධ්‍යා කඳුවැටිය හා නර්මදා ගඟ ගැන සඳහන් වේ.
(B) ඍග් වෛදික ජනයා ආහාරයට ගත්තේ එළවළු වර්ග පමණි.
(C) ඍග් වෛදික ජනයා ගෝත්‍රවලට බෙදී සිටියහ.
(D) භරතයන්ගේ රජු වූ සුදාස් විසින් දස ගෝත්‍රික සංයුක්තයේ නායක වූ විශ්වමිත්‍ර පරාජය කරන ලදී. (.........)

**32. සාතවාහනයෝ**

(A) සාතවාහන රාජවංශයේ පළමුවන රජු සිංහ විෂ්ණු ය.
(B) සාතවාහනයන්ගේ අගනුවර ප්‍රතිශ්ඨාන් විය.
(C) ගෞතමීපුත්‍ර ශාතකර්ණිගේ මව ගෞතමී බාලශ්‍රී ය.
(D) සාතවාහනයන් යටතේ හින්දු ආගම උච්ච ස්ථානයට පත්විය. (.........)

**33. ධර්මපාල**

(A) පාලවංශයේ ආරම්භකයා වූ ගෝපාලගේ පුත්‍රයා මෙන්ම අනුප්‍රාප්තිකයා වූයේ ද ධර්මපාලයි.
(B) ධර්මපාල ඕදන්තිපුර ආශ්‍රමයේ ආරම්භකයා ය.
(C) ධර්මපාලගේ කැපී පෙනෙන කාර්යය වූයේ කනෞජයේ ඉන්ද්‍රායුධ පරදා චක්‍රායුධ එහි සිහසුන්ගත කිරීම ය.
(D) දෙවන නාගභට විසින් චක්‍රායුධ කුමරු සිහසුනෙන් ඉවත් කිරීමට ගත් උත්සාහය ව්‍යර්ථ කිරීමට ධර්මපාල සමත් විය. (.........)

**34. ඉන්දියාවේ ශක පාලනය**

(A) ශකවරු ක්‍රි. පූ. 75 පමණ දී සින්ධ්හි බලය පිහිට වූහ.
(B) ශකවරු පැමිණියේ මධ්‍යම ආසියාවෙන් ය.
(C) ශක පාලනය යටතේ පැවති මථුරා සහ තක්ෂිලා උතුරු සත්‍රප ලෙස හැඳින්විණි.
(D) ශකවරු පාලනය කළ මාල්වා සහ කතියවාර් ප්‍රදේශ හඳුන්වන ලද්දේ බටහිර ක්ෂත්‍රප ලෙසිනි. (.........)

**35. ස්කන්ධගුප්ත**

(A) ස්කන්ධගුප්ත සිය පියාවූ කුමාරගුප්ත විසින් පුෂ්‍යමිත්‍රයන්ට විරුද්ධව සටනට යැවී ය.
(B) අධික වර්ෂාව නිසා බිඳීගිය සුදර්ශන ජලාශය ස්කන්ධගුප්ත විසින් පිළිසකර කරන ලදී.
(C) ඔහු දැඩි ශිව භක්තිකයකු විය.
(D) ස්කන්ධගුප්තගේ මරණයත් සමග අභ්‍යන්තර අරගල නිසා ගුප්ත අධිරාජ්‍යය බිඳ වැටුණි.
(.........)

23167

- අංක **36** සිට **40** තෙක් ප්‍රශ්නවලට අදාළ ව ප්‍රකාශ **දෙක** බැගින් දී ඇත. එක් එක් ප්‍රශ්නය සම්බන්ධයෙන් දී ඇති ප්‍රකාශ යුගලයට හොඳින් ම ගැළපෙනුයේ පහත වගුවෙහි දැක්වෙන **1, 2, 3, 4** සහ **5** යන කවර ප්‍රකාශ යුගලය දැ'යි තෝරා, ඊට අදාළ **අංකය වරහන තුළ** ලියන්න.

| | **පළමුවැනි ප්‍රකාශය** | **දෙවැනි ප්‍රකාශය** |
|---|---|---|
| **1** | නිවැරදි ය. | වැරදි ය. |
| **2** | නිවැරදි ය. | නිවැරදි ය. |
| **3** | වැරදි ය. | වැරදි ය. |
| **4** | වැරදි ය. | නිවැරදි ය. |
| **5** | නිවැරදි ය. | නිවැරදි වන අතර **පළමුවැන්න** මැනවින් පහදා දෙයි. |

| | **පළමුවැනි ප්‍රකාශය** | **දෙවැනි ප්‍රකාශය** | |
|---|---|---|---|
| **36.** | බිම්බිසාර රජු මගධයේ තම බලය තහවුරු කර ගත්තේ පාටලීපුත්‍ර අගනුවර සිට ය. | මෞර්ය අවධියේ දී පාටලීපුත්‍ර නගරයේ පාලනය මණ්ඩල හයකට පැවරී තිබුණු බව වාර්තා වේ. | (.........) |
| **37.** | අධිරාජ්‍ය ගුප්තයන්ගේ බිඳවැටීමත් සමග උතුරු ඉන්දියාවේ දේශපාලන කටයුතුවල මධ්‍යස්ථානය වූයේ කනෞජයයි. | කනෞජයේ අධිරාජ්‍යයක් පිහිටුවන ලද්දේ හර්ෂවර්ධන විසිනි. | (.........) |
| **38.** | වින්ධ්‍යාවලින් ඔබ්බට බලය ව්‍යාප්ත කළ එකම දකුණු ඉන්දියානු රාජ්‍යය චෝල අධිරාජ්‍යයි. | චෝලයන් තම බලය පිහිටුවන ලද්දේ පාණ්ඩ්‍ය රාජ්‍යයේ නටබුන් මත ය. | (.........) |
| **39.** | සීතා බේරා ගැනීම සඳහා රාමා විසින් රාවණා සමග කළ සටන රාමායනයට පදනම් වී ඇත. | රාමායනය ඉන්දියාවේ ඇති එකම වීර කාව්‍යයයි. | (.........) |
| **40.** | යසෝවර්මන් ක්‍රි. ව. අටවන සියවසේ මුල් භාගයේ දී කනෞජයේ රාජ්‍ය කළේ ය. | යසෝවර්මන් පිළිබඳ තොරතුරු ලැබෙන්නේ පාහියන් වාර්තාවලිනි. | (.........) |

* *

සියලු ම හිමිකම් ඇවිරිණි / முழுப் பதிப்புரிமையுடையது / All Rights Reserved]

ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව
இலங்கைப் பரீட்சைத் திணைக்களம் இலங்கைப் பரீட்சைத் திணைக்களம்
Department of Examinations, Sri Lanka Department of Examinations, Sri Lanka

ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව
இலங்கைப் பரீட்சைத் திணைக்களம்
Department of Examinations, Sri Lanka

අධ්‍යයන පොදු සහතික පත්‍ර (උසස් පෙළ) විභාගය, 2018 අගෝස්තු
கல்விப் பொதுத் தராதரப் பத்திர (உயர் தரப்) பரீட்சை, 2018 ஓகஸ்ற்
General Certificate of Education (Adv. Level) Examination, August 2018

ඉතිහාසය II (II කොටස)
வரலாறு II (பகுதி II)
History II (Part II)

25 - A | S | II

**ඉන්දියා ඉතිහාසය - ඈත අතීතයේ සිට ක්‍රි.ව. 1206 දක්වා**

*උපදෙස්:*
* **පළමුවැනි** ප්‍රශ්නයටත් තවත් ප්‍රශ්න **තුනකටත්** පිළිතුරු සපයන්න.
(**පළමුවැනි** ප්‍රශ්නයට පිළිතුරු සැපයීම සඳහා **ඉන්දියාවේ දළ සිතියමක්** සපයා ඇත.)

## II කොටස

1. ඔබට සපයා ඇති සිතියමේ පහත සඳහන් **සියලු ම ස්ථාන ලකුණු කොට නම් කරන්න.** ඒවායින් කැමති **දෙකක්** පිළිබඳ ව කෙටි ඓතිහාසික සටහන් ලියන්න.

(i) ලෝතාල් (ii) ආරවල්ලි
(iii) ඉන්ද්‍රප්‍රස්ථ (iv) ගෝදාවරී ගඟ
(v) මක්‍රාන් කපොල්ල (vi) පාටලීපුත්‍ර
(vii) පුරුෂපුරය (viii) කාවේරි පටුන

*(නිවැරදි ව ලකුණු කිරීමට හා නම් කිරීමට ලකුණු **01** බැගින්; කෙටි ඓතිහාසික සටහනකට ලකුණු **05** බැගින්.)*

2. පුරාතන ඉන්දියා ඉතිහාසය හැඩගැස්වීම කෙරෙහි භූගෝලීය ලක්ෂණ බලපෑ ආකාරය පරීක්ෂා කරන්න. (ලකුණු 14යි.)

3. "ඉන්දු නිම්න ශිෂ්ටාචාරය ඉන්දියාවේ පැරණිතම නාගරික ශිෂ්ටාචාරයයි."
(i) ඉන්දු නිම්න ශිෂ්ටාචාරයට අයත් නටබුන් පළමුවරට සොයාගත් බ්‍රිතාන්‍ය ජාතිකයා නම් කරන්න. (ලකුණු 01යි.)
(ii) මෙම ශිෂ්ටාචාරයට අයත් ප්‍රධාන නගර **දෙකක්** නම් කරන්න. (ලකුණු 02යි.)
(iii) මෙම ශිෂ්ටාචාරයේ ප්‍රභවය පිළිබඳ පවත්නා මත සැකෙවින් සාකච්ඡා කරන්න. (ලකුණු 04යි.)
(iv) ඉන්දු නිම්න ශිෂ්ටාචාරයේ නාගරික ලක්ෂණ විචාරාත්මකව පරීක්ෂා කරන්න. (ලකුණු 07යි.)

4. ක්‍රි. පූ. හයවන සියවසේ උතුරු ඉන්දියාවේ පැවති දේශපාලන තත්ත්වය පැහැදිලි කරන්න. (ලකුණු 14යි.)

5. "මෞර්ය අධිරාජ්‍යය පිහිටුවීමේ ගෞරවය චන්ද්‍රගුප්ත මෞර්ය රජුට හිමිවේ." මෙම කියමන සාකච්ඡා කරන්න. (ලකුණු 14යි.)

6. ඉන්දියානු සංස්කෘතික අභිවර්ධනය උදෙසා කුෂාණ පාලකයින්ගේ දායකත්වය පරීක්ෂා කරන්න. (ලකුණු 14යි.)

7. "සමුද්‍රගුප්ත රජුගේ යුද ප්‍රයාන, ගුප්ත අධිරාජ්‍යය පිහිටුවීම සඳහා බලපෑ ප්‍රධානතම සාධකය විය."
(i) සමුද්‍රගුප්ත රජුගේ යුද ප්‍රයාන විස්තර කෙරෙන අභිලේඛනය නම් කරන්න. (ලකුණු 01යි.)
(ii) සමුද්‍රගුප්ත රජුගේ ප්‍රධාන යුද මෙහෙයුම් **දෙකක්** පිළිබඳ විග්‍රහ කරන්න. (ලකුණු 04යි.)
(iii) ගුප්ත අධිරාජ්‍යය පිහිටු වීම සඳහා සමුද්‍රගුප්ත රජුගේ යුද ප්‍රයාන මුල් වූ ආකාරය විවේචනාත්මකව පරීක්ෂා කරන්න. (ලකුණු 09යි.)

8. කනෞජයේ ආධිපත්‍යය උදෙසා හර්ෂවර්ධන රජ සමයෙන් පසුව ඇති වූ අරගලය විස්තර කරන්න. (ලකුණු 14යි.)

9. **එක්කෝ (A)** කොටසට **නැතහොත් (B)** කොටසට **පමණක්** පිළිතුරු සපයන්න.
**(A)** දකුණු ඉන්දියානු සංස්කෘතියේ අභිවර්ධනයට පල්ලවයන්ගෙන් සිදු වූ දායකත්වය පරීක්ෂා කරන්න. (ලකුණු 14යි.)

**(B)** චෝළ පරිපාලනයේ ප්‍රධාන ලක්ෂණ පරීක්ෂා කරන්න. (ලකුණු 14යි.)

* * *

සියලු ම හිමිකම් ඇවිරිණි / முழுப் பதிப்புரிமையுடையது / All Rights Reserved]

ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව
இலங்கைப் பரீட்சைத் திணைக்களம்
Department of Examinations, Sri Lanka

අධ්‍යයන පොදු සහතික පත්‍ර (උසස් පෙළ) විභාගය, 2018 අගෝස්තු
கல்விப் பொதுத் தராதரப் பத்திர (உயர் தர)ப் பரீட்சை, 2018 ஓகஸ்ற்
General Certificate of Education (Adv. Level) Examination, August 2018

| | | | |
|---|---|---|---|
| ඉතිහාසය II<br>வரலாறு II<br>History II | 25-A | S |

ප්‍රශ්න අංකය / வினா இல. / Question No. 1

විභාග අංකය / சுட்டெண் / Index No. ..............................

